ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

**2559 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2015(2016)** **S4**

**(04) බෞද්ධ සංස්කෘතිය**

පැ තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් හතරකින් සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් ප්‍රශ්න එකක් වත් ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න පහකට පමණක් පිළිතුරු සපයන්න.

## I කොටස

1. (i) බුදුරජාණන් වහන්සේ විසින් සිය ශ්‍රාවකයන් උදෙසා ශික්ෂා පද පැනවීමට හේතු වූ අරමුණු කවරේ දැයි කෙටියෙන් පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

   (ii) නිර්වාණාවබෝධය සඳහා බෞද්ධ ගිහි-පැවිදි දෙපක්ෂයම මධ්‍යම ප්‍රතිපදා මාර්ගය අනුගමනය කිරීමේ දී මතු වී පෙනෙන විශේෂතා පිළිබඳ සමාලෝචනයක් කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) 'ප්‍රාතිමෝක්ෂ සංවර ශීලය' හඳුන්වා පැවිදි සමාජයේ පැවැත්ම උදෙසා එමගින් සැලසෙන යහපත පිරික්සන්න. *(ලකුණු 08 යි)*

2. (i) 'ප්‍රත්‍යවේක්ෂා කිරීම' යනු කුමක් දැයි පැහැදිලි කොට එමගින් භික්ෂු ජීවිතයෙහි කවර ගුණාංග පිළිබිඹු වේ දැයි විමර්ශනය කරන්න. *(ලකුණු 06 යි)*

   (ii) භික්ෂූන් වහන්සේලාගේ දත් වැළඳීම ආශ්‍රිත ශික්ෂාපද ඇසුරෙන් හෙළි වන මූලික ආචාර ධර්ම පද්ධතිය පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) ආහාර ගැනීමේ දී බෞද්ධ ගිහියන් විසින් පිළිපැදිය යුතු සිරිත් විරිත් මොනවා දැයි විස්තර කරන්න. *(ලකුණු 08 යි)*

3. (i) ත්‍රිවිධ චෛත්‍යය හඳුන්වා මේ අතර බෝධීන් වහන්සේට විශේෂ ස්ථානයක් හිමි වන ආකාරය පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

   (ii) භාරතීය හා ශ්‍රී ලාංකේය ඓතිහාසික තොරතුරු පාදක කර ගනිමින් බෝධිඝරයේ ආරම්භය හා විකාශනය පිළිබඳ විමර්ශනයක් කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) බෝධි පූජා පැවැත්වීමේ දී ශ්‍රී ලාංකේය නූතන බෞද්ධයන් අනුගමනය කරන චාරිත්‍ර විධි විස්තර කරන්න. *(ලකුණු 08 යි)*

## II කොටස

4. (i) 'පටිමාඝර' යනු කවරේ දැයි හඳුන්වා මේවායේ ආරම්භය හා විකාශය පිළිබඳ විමර්ශනයක් කරන්න. *(ලකුණු 06 යි)*

   (ii) ගම්පොළ යුගයට අයත් ලංකාතිලක හා ගඩලාදෙණි විහාරවල පවත්නා ඓතිහාසික, ආගමික හා ගෘහනිර්මාණ ශිල්පීය වැදගත්කම පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) ටැම්පිට පිළිම ගෙවල්වල ආරම්භය හා ව්‍යාප්තිය පිළිබඳ සමාලෝචනයක් කරන්න. *(ලකුණු 08 යි)*

5. (i) උපෝෂථාගාරවල ශාසනික වැදගත්කම පැහැදිලි කරමින් අනුරපුර හා පොළොන්නරු යුගවලට අයත් උපෝෂථාගාර දෙකක් ගැන විස්තර ඉදිරිපත් කරන්න. *(ලකුණු 06 යි)*

   (ii) 'පධානඝර' යනු කවරේ දැයි හඳුන්වා මෙරට පෞරාණික පධානඝර දෙකක් ගැන තොරතුරු සපයන්න. *(ලකුණු 06 යි)*

   (iii) 'ආසනඝරවල' පවත්නා ආගමික සුවිශේෂත්වය දක්වා මෙරට පෞරාණික ආසනඝර දෙකක් ගැන විස්තර සපයන්න. *(ලකුණු 08 යි)*

[ දෙවන පිටුව බලන්න.

## III කොටස

6. (i) සිංහල භක්ති කාව්‍යයක් වශයෙන් 'තුන්සරණය' කෘතියෙහි පවත්නා වැදගත්කම පරීක්ෂා කරන්න. *(ලකුණු 06 යි)*

(ii) බුදුගුණාලංකාරයෙහි කර්තෘ, කාලය හා වස්තු විෂය හඳුන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

(iii) බෞද්ධ පාඨකයා තුළ ආගමික ශ්‍රද්ධාව දැනවීම සඳහා බුදුගුණාලංකාර කතුවරයා උපයෝගි කොට ගත් විවිධ උපායමාර්ග විමර්ශනය කරන්න. *(ලකුණු 08 යි)*

7. (i) පූජාවලියෙහි කර්තෘ, කාලය හා අන්තර්ගත කරුණු පිළිබඳ හැඳින්වීමක් කරන්න. *(ලකුණු 06 යි)*

(ii) කථාවස්තුවල රසවත් භාවය හා සජීවී ස්වරූපය ආරක්ෂා කිරීම සඳහා පූජාවලී කතුවරයා ශබ්ද රසය උපයෝගි කොට ගත් ආකාරය නිදසුන් මගින් පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

(iii) පොදු ජනතාවගේ සිත් ගන්නා අයුරින් කතාපුවත් වර්ණනා කිරීම සඳහා පූජාවලී කතුවරයා දැරූ ප්‍රයත්නය එම කෘතියේ අභිමත කථාවක් ඇසුරෙන් විමර්ශනය කරන්න. *(ලකුණු 08 යි)*

## IV කොටස

8. (i) 12 වන සියවසේ දී ශ්‍රී ලංකාව හා බුරුමය (මියන්මාරය) අතර පැවති ආගමික සම්බන්ධතා පිළිබඳ හැඳින්වීමක් කරන්න. *(ලකුණු 06 යි)*

(ii) බුරුමයේ (මියන්මාරයේ) සීහල සංඝ නිකායේ ආරම්භය හා ව්‍යාප්තිය සිදු වූ ආකාරය විමර්ශනය කරන්න. *(ලකුණු 06 යි)*

(iii) 19 වන සියවස ආරම්භයේ දී ලක්දිව බුදුසසුනේ අභිවෘද්ධිය උදෙසා බුරුම (මියන්මාර) භික්ෂූන්ගෙන් ලැබුණු සහාය විස්තර කරන්න. *(ලකුණු 08 යි)*

9. (i) ශ්‍රී ලංකාවේ ශාසනාභිවෘද්ධිය උදෙසා 19 වන සියවස ආරම්භයේ දී තායිලන්ත භික්ෂූන් සිදු කළ විශිෂ්ට සේවය ඇගයීමට ලක් කරන්න. *(ලකුණු 06 යි)*

(ii) චීන බුදුදහම පෝෂණය කිරීමෙහි ලා හියුංසියැං හිමියන්ගෙන් සැලසුණු සේවය විමර්ශනය කරන්න. *(ලකුණු 06 යි)*

(iii) ජපාන ජනතාවගේ සම්භාවනාවට පාත්‍ර වූ සෙන් බුදු දහම ගැන හැඳින්වීමක් කරන්න. *(ලකුණු 08 යි)*

***